# පටලැවිල්ල



සෝවියට් ලේඛකසෝවියට් ලේඛක

කෝර්නෙයි චුකොව්ස්කි

මහින්ද සෙනරත් ගමගේ



පූස් පැටව් පේළි ගැසී මෙහෙම කියනවා

"අපොයි ඤාව් කියලා හොඳටම එපා වෙලා
බලු පැටවුන් වගේ බුරන එක වඩා හොඳා"

බව් බව් බව් බව් බව් බව් බව් බව් බව් බව්

තාරා පැටවුනුත් කතා කරන්නට වුණා.

"ක්වැක් ක්වැක් කියලා මොන හොඳක් වෙනවද ?
ගෙම්බො වගේ හඬ තැළුවොත් නරක් වෙනවද ?

'ක්රෝක් ක්රෝක් ක්රෝක් - ක්රෝක් ක්රෝක් ක්රෝක්



ඌරු පැටව් ඤාව් කියයි
කුකුළු පැටව් ක්වෑක් කියයි
ගේ කුරුල්ලෝ පැන පැන විත්
උම්බෑ-උම්බෑ හඬ දෙයි









හැමදාමත් කුක්කු කූක් කියන්න බෑනේ
කුකුළු හාමි ඌරු හඬින් ඔයික් කියන්නේ

මේ විදිහට මේ හැම දෙන කරනා මේ දෙය
හොඳක් නොවන බව කීවේ හාවා පමණය

ගෝවා ගෙඩියක් පාමුල වැතිර, හා බසින්
නරක යාළුවන් හට ඔහු කියයි මේ ලෙසින්




"ඥාව් කියන අය බව් බව් කියන්න හොඳ නෑ
බව් බව් කියනා අය ඥාව් කියන්න හොඳ නෑ

ගෙම්බො නො ඉගිලෙයි - මැඩියෝ උලා කන්නේ නෑ
කපුටෝ කවදාවත් චළදෙන්නු වෙන්නෙ නෑ."

හාවා ඒ ලෙස කීවට කවුද අහන්නේ
සතුටින් ඒ අය පෙරටත් වැඩිය නටන්නේ



මාළු ගොඩට ඇවිත් ළමුන් වගේ ඇවිදිති
ගෙම්බෝ උඩ පැනලා අහසේ පියාඹති
මී උගුලක් ගෙන අටවා තබමින් මීයෝ
කොහේද යන පූසෙක් ඒකෙන් ඇල්ලුවෝ

තණබිම අතරින්
නරි රැළ ඇවිදින්
මහ මුහුදට
ගින්දර ඇවිලෙව්වා

හප්පේ එය ඇවිලෙන දළු ලන හැටි
තල් මහ කට ඇරලා කෑ ගැහුවා

"ගින්නක් ගින්නක්
ඇවිත් නිවපියෝ "



කිඹුලා දුවගෙන දුවගෙන ආවා
කේක්, කැවුම් හතු පොම්පෙන් විද්දා
ගින්නේ අඩුවක් පේන්න නැතුවා
අහසට ගිනි දැල් බුර බුර නැඟුනා





පීප්පෙකින් කිකිළියෝ දිය දැම්මා
ගින්නට එනමුදු වගකුත් නැතුවා

දණ්ඩි පැටව් දෙන්නෙක් සමගියෙනා
කෙණෙස්සකින් දිය ටිකක් ගෙනාවා

ගෙඹි යාළුවො දෙන්නෙක් එක් වීලා
ලී බාල්දියක වතුර ගෙනාවා

දිගටම දිගටම වැක් කෙරුවත් දිය
ගින්න බුර බුරා නැඟුනා පමණය



ඔන්න එවිට සමනළයෙක් ආවා
අහසේ සිට අත් තටු දෙක ගැසුවා

සෙමින් සෙමින් ගිනි මැලේ අඩුවෙලා
නිවී ගිහින් දුම ගියා පාවෙලා

කුරුල්ලො හා වන සතුන් එක් වුණා
සතුට මිහිර සැමතකින් ඉතිරුණා
පා නටවා වලිගයන් සොලවලා
රංචු ගැසී නැටුමකට එක් වුණා

පාත්ත පැටියා ඉස්සර වාගෙම
පරණ පුරුදු විදිහට හඬ දුන්නා
පූස් පැටව් ටික වලිගය සොලවා
ඳාව් ඳාව් කියලා උඩ පැන්නා

කුරුල්ලෝ ඉස්සර වගෙ ගී ගැයුවා
අශ්ව පැටව් හේෂාරවය කළා
මැයි කුරුමිණියෝ සූ හඬ දුන්නා
ගෙඹි පැටවුන් සුපුරුදු හඬ නැඟුවා

තාරා පැටවුන් ක්වැක් හඬ දුන්නා



පොළොවෙන් අහසෙන් හැම තැන ඉඳලා
රංචු ගැසී හැම සතුන් ඇවිල්ලා
පුංචි දුව ළඟින් ඉඳගෙන ඉන්නේ
නැළවිලි ගීයක් එක්ව ගයන්නේ

දොයි දොයි දොය... දොයිය බබා
බයි බයි බයි බයිය බබා



සෝවියට් ලේඛක
කෝර්නෙයි චුකොව්ස්කි
මහින්ද සෙනරත් ගමගේ

සිතුවම්
ව්ලැඩිමීර් කොනසෙවිච්
පරිගණක පිටු සැකසුම්
ගයානී නිලංකා ගලගෙදර




**සයුරි ප්‍රකාශන**
**අංක 102/176**
**මත්තෙගොඩ නිවාස සංකීර්ණය පාර**
**මත්තෙගොඩ**
**දුරකතන : 0115-676483 0715 181421 ෆැක්ස් 0112 844961**

ISBN 978-955-1889-06-7

60/-